84 S I,II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2014 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2014 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2014

| | | |
|---|---|---|
| ශිල්ප කලා | I, II | පැය තුනයි |
| நுண்கலை | I, II | மூன்று மணித்தியாலம் |
| Arts and Crafts | I, II | Three hours |

## ශිල්ප කලා I

සැලකිය යුතුයි :

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරන්න.

(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම උත්තර පත්‍රයේ පිටුපස, දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

1. පාරම්පරික සුළුකර්මාන්තයක් වන ලාක්ෂා කර්මාන්තයේ දී, ලාක්ෂා භාවිත කර ඉතා සියුම් විසිතුරු සිත්තම් යොදනු ලබන්නේ,
   (1) මැටි භාණ්ඩවල ය. (2) දැවමය භාණ්ඩවල ය.
   (3) ස්වර්ණාභරණවල ය. (4) පිත්තල භාණ්ඩවල ය.

2. මෙහි දැක්වෙන ජ්‍යාමිතික නිර්මාණය කුමක් ද?
   (1) $A, B$ සරල රේඛාව සමච්ඡේදනය වන සේ ලම්බකයක් ඇඳීම
   (2) $A, B$ සරල රේඛාව මත පිහිටි ලක්ෂ්‍යයකට ලම්බකයක් ඇඳීම
   (3) $A, B$ සරල රේඛාවේ අන්තයේ පිහිටි ලක්ෂ්‍යයකට ලම්බකයක් ඇඳීම
   (4) $A, B$ සරල රේඛාවට බාහිර ව පිහිටි ලක්ෂ්‍යයක සිට ලම්බකයක් ඇඳීම




3. මෙහි දැක්වෙන $CAB$ කෝණය විහිත චතුරස්‍ර යුගලය භාවිතයෙන් නිර්මාණය කර ඇත. මෙම කෝණයේ අගය
   (1) 105° කි. (2) 120° කි.
   (3) 135° කි. (4) 150° කි.




4. රූපසටහනේ දැක්වෙන ජ්‍යාමිතික නිර්මාණයේ $AB$ අරය වශයෙන් ගෙන වෘත්ත චාපයක් ඇඳ ඇත. එම අරය ම ගෙන $B$ සිට $C$ ලක්ෂ්‍යයත් $C$ සිට $D$ ලක්ෂ්‍යයත් ලකුණු කර ඇත. $CD$ සමච්ඡේදනය කරන $AE$ රේඛාව ද $ED$ සමච්ඡේදනය කරන $AF$ රේඛාව ද ඇඳ ඇත. මෙහි දී නිර්මාණය වූ $BAF$ කෝණයේ අගය කොපමණ ද?
   (1) 60° (2) 90°
   (3) 105° (4) 120°




5. වෘත්ත ඛණ්ඩයක් යනුවෙන් හැඳින්වෙන්නේ වෘත්තයක කුමන කොටස ද?
   (1) ජ්‍යායකින් සහ චාපයකින් සීමා වූ කොටස ය.
   (2) අරයන් දෙකකින් සහ චාපයකින් සීමා වූ කොටස ය.
   (3) විෂ්කම්භයකින් සහ චාපයකින් සීමා වූ කොටස ය.
   (4) විෂ්කම්භ දෙකකින් සහ චාපයකින් සීමා වූ කොටස ය.

[දෙවැනි පිටුව බලන්න.

6. මෙහි දැක්වෙන්නේ පූජනීය ස්ථානයක ප්‍රධාන දොරටුව දෙපස පින්තාරු කරන ලද නෙළුම්මල් මෝස්තරයකි. මෙම මෝස්තරය තුළ ඒක කේන්ද්‍රික වෘත්ත කොපමණ සංඛ්‍යාවක් තිබේ ද?



(1) 02 කි.
(2) 03 කි.
(3) 04 කි.
(4) 05 කි.

7. මෙම ජ්‍යාමිතික රූපයෙන් දැක්වෙන්නේ *A, B, C, D, E, F* යන සවිධි ෂඩස්‍රයකි. මෙහි *A* සිට අනෙකුත් ශීර්ෂ යා කිරීමේ දී ගොඩනැගෙන ත්‍රිකෝණ අතර සමද්විපාද ත්‍රිකෝණ යුගලය තෝරන්න.




(1) *A, B, C* සහ *A, E, F* ත්‍රිකෝණ යුගලය
(2) *A, B, C* සහ *A, C, D* ත්‍රිකෝණ යුගලය
(3) *A, B, C* සහ *A, D, E* ත්‍රිකෝණ යුගලය
(4) *A, C, D* සහ *A, D, E* ත්‍රිකෝණ යුගලය

8. මෙම රූපයේ දැක්වෙන ආකාරයේ දිග පළල 12 cm × 6 cm ප්‍රමාණයේ රිජිෆෝම් කැබලි රාශියක් අතුරෙන් සමචතුරස්‍රාකාර රිජිෆෝම් තලයක් සකස්කර ගැනීම සඳහා යොදාගත යුතු අවම කැබලි සංඛ්‍යාව කොපමණ ද?




(1) 02 කි. (2) 03 කි.
(3) 04 කි. (4) 05 කි.

9. මෙහි දැක්වෙන්නේ පහන් ආවරණ සතරකි. මෙම ආවරණ සෑදීමේ දී විකසනය සෘජුකෝණාස්‍රාකාර හැඩය ගන්නා පහන් ආවරණ යුගලය තෝරන්න.




(1) A සහ B (2) A සහ C (3) A සහ D (4) B සහ D

10. මෙම රූපයෙන් දැක්වෙන්නේ කිරි නිෂ්පාදනයක් ඇතුළත් ඇසුරුමකි. මෙම ඇසුරුම සැකසීමට යොදාගත යුතු නිවැරදි විකසනය තෝරන්න.







(1) A (2) B (3) C (4) D

11. පිළි අලංකරණයේ දී මූලික වර්ණ ලෙස සැලකෙන නිල්, කහ හා රතු වර්ණ පාදක කොට ගෙන වර්ණාවලියක් සකස් කර ගැනේ. මෙහි දී කොළ පැහැය ලබා ගැනීමට මිශ්‍ර කරගත යුතු වන්නේ,

(1) නිල් සහ කහ පැහැයන් ය. (2) රතු සහ නිල් පැහැයන් ය.
(3) කහ සහ රතු පැහැයන් ය. (4) නිල්, කහ සහ රතු පැහැයන් ය.

[තුන්වැනි පිටුව බලන්න.

12. අතින් පින්තාරු කිරීමේ දී භාවිත කරනු ලබන පින්සල්, කාර්යයට අදාළ ව තෝරාගත යුතු ය. පින්සල් තෝරාගත යුත්තේ කෙසේ ද?
   (1) කෙඳිවලට යොදා ඇති වර්ණය අනුව ය.
   (2) කෙඳිවල ප්‍රමාණය අනුව අංකනය කර ඇති බැවින් අංක අනුව ය.
   (3) යොදා ඇති කෙඳි කෘත්‍රිම හෝ ස්වභාවික ඒවා දැ'යි බලා ඒ අනුව ය.
   (4) භාවිතයේ පහසුව සඳහා පින්සලේ මිට යොදා ඇති ආකාරය අනුව ය .

13. රෙදි මුද්‍රණ සායම් (Fabric paints) භාවිත කිරීමේ දී සායම්වල තද පැහැය අඩු කර ලා පැහැයක් ලබා ගැනීම සඳහා මිශ්‍ර කර ගනු ලබන්නේ,
   (1) පිරිසිදු ජලය ය.
   (2) සුදු පැහැ බයින්ඩර් ගම් ය.
   (3) කළු පැහැති සායම් ය.
   (4) සුදු පැහැති සායම් ය.

14. අච්චු මුද්‍රණ ක්‍රියාවලියේ පියවර පහත දැක්වේ. එහි අනුපිළිවෙළ තෝරන්න.
   A - රටාවක් ගොඩනැගෙන ලෙස මුද්‍රා තබා ගැනීම
   B - සුදුසු මාධ්‍යයක මෝස්තරයක් ඇඳ ගැනීම
   C - මුද්‍රණ තලයේ රෙදිකඩ සවිකර ගැනීම
   D - අච්චු මුහුණතේ සායම් ආලේප කිරීම
   E - කැපුම් තලයක ආධාරයෙන් මෝස්තරය කපා ගැනීම
   (1) A, B, C, D, E (2) B, C, A, D, E (3) B, E, C, D, A (4) C, B, A, D, E

15. රෙදිපිළි අලංකරණයේ දී මෝස්තර ලබා ගැනීම සඳහා විවිධ ක්‍රමවේද භාවිතයට ගැනේ. ඉටි මිශ්‍රණයක් මගින් මෝස්තර සකස් කර ගන්නේ,
   (1) බතික් අලංකරණ ක්‍රියාවලියේ දී ය.
   (2) සේදරාමු මුද්‍රණ ක්‍රියාවලියේ දී ය.
   (3) තාප බන්ධිත අලංකරණ ක්‍රියාවලියේ දී ය.
   (4) සිදුරු තහඩු මුද්‍රණ ක්‍රියාවලියේ දී ය.

16. රෙදි නිෂ්පාදනයේ දී පෙර පිරියම් ක්‍රියාවලියක් භාවිතයට ගැනේ. විරංජන යනුවෙන් හඳුන්වන පෙර පිරියම් ක්‍රියාවලියේ දී සිදු කෙරෙන්නේ,
   (1) රෙදිවල ස්වාභාවිකව පවතින කැඳ ඉවත් කර පිරිසිදු කර ගැනීම ය.
   (2) රෙදිවල පවත්නා ස්වාභාවික දුඹුරු පැහැය ඉවත් කර සුදු පැහැය ලබා ගැනීම ය.
   (3) නූල් කැටීමේ දී සහ විවීමේ දී එකතු වූ තෙල් ග්‍රීස් පැල්ලම් ආදිය ඉවත් කර ගැනීම ය.
   (4) කෙඳිවල පවත්නා පෙක්ටින්, ලිග්නින්, ඉටි ආදිය ඉවත් කර ගැනීම ය.

17. ගෝනි විවීම සඳහා කෙඳි ලබා ගන්නා ශාකය වන්නේ,
   (1) හණ (Flax) ය. (2) මැනිලා (Manila) ය. (3) ජූට් (Jute) ය. (4) රැමී (Ramie) ය.

18. කෙඳි හඳුනා ගැනීම සඳහා පිළිස්සුම් පරීක්ෂාව භාවිත කරනු ලබන අවස්ථාවක කපු කෙඳි හඳුනාගත හැකි ලක්ෂණ වන්නේ,
   (1) ඉක්මනින් ගිනි ඇවිලීම සහ සෙමින් පිළිස්සීම සිදු වීම ය.
   (2) ගිනි ගැනීම ප්‍රමාද වීම සහ ගිනි සිළු කුඩා වීම ය.
   (3) ගිනි ඇල්ලීම ප්‍රමාද වීම සහ පුළුටු ගඳ වහනය වීම ය.
   (4) කඩදාසි පිළිස්සෙන ගඳ වහනය වීම සහ කහ පාට ලොකු ගිනි සිළු ඇති වීම ය.

19. විවාහ මංගල උත්සව සඳහා නිර්මාණය කරන මංගල පෝරුව සකස් කිරීමේ දී එහි ප්‍රධාන කොටස ලෙස සැලකෙන්නේ,
   (1) මංගල යුවළ ගොඩවන පාදම හෙවත් වේදිකාව ය.
   (2) මංගල පෝරුවේ වහල ලෙස සලකන ඉහළ කොටස ය.
   (3) පිච්චමල් එල්ලා වැටෙන ලෙස සරසන සතර දිශා ය.
   (4) මංගල පෝරුව සතර කොන තබන වාසනාවේ සංකේත වන පුන්කලස් ය.

20. කෘත්‍රිම පබළු සාදා ගැනීම සඳහා භාවිත කරන පාන්කලේ මිශ්‍රණය සාදා ගැනීමට යොදා ගන්නා ද්‍රව්‍ය කාණ්ඩය තෝරන්න.
   (1) පාන්, බයින්ඩර් ගම්, කෝන් පිටි සහ වර්ණක
   (2) පාන්, බයින්ඩර් ගම්, බිස්කට් කුඩු සහ වර්ණක
   (3) දිනක් පරණ පාන්, බයින්ඩර් ගම්, කපුරු කුඩු සහ වර්ණක
   (4) පාන්, බයින්ඩර් ගම්, තිරුඟු පිටි සහ වර්ණක

/හතරවැනි පිටුව බලන්න.

21. පහත දැක්වෙනුයේ චාම් වියමන් පවුලේ ප්‍රභේද හතර ය. දී ඇති වියමන් රටා පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.


A


B


C


D

(1) ජටා, දික්දාර, චාම් සහ හරස්දාර
(2) හරස්දාර, ජටා, දික්දාර සහ චාම්
(3) චාම්, දික්දාර, හරස්දාර සහ ජටා
(4) චාම්, ජටා, දික්දාර සහ හරස්දාර

22. හීරි වියමන් රටා නම් කර ඇත්තේ හීරි ලෙස හඳුන්වන රේඛාව මතු වී පෙනෙන ආකාරය පදනම් කරගෙන ය. පහත දී ඇති වියමන් රටා නිවැරදි ව නම් කර ඇති පිළිතුර තෝරන්න.


A


B


C


D

(1) දඟරහීරි, සරලහීරි, තුඩුහීරි සහ කඩහීරි
(2) කඩහීරි, තුඩුහීරි, දඟරහීරි සහ සරලහීරි
(3) සරලහීරි, දඟරහීරි, තුඩුහීරි සහ කඩහීරි
(4) සරලහීරි, තුඩුහීරි, දඟරහීරි සහ කඩහීරි

23. තුවා විවීම සඳහා ජලය අවශෝෂණය කර ගැනීමේ ශක්තිය සහිත වියමන් රටා භාවිත කළ යුතු ය. ඒ සඳහා වඩා සුදුසු වියමන් රටා දෙක වන මීවද වියමන සහ හාක්ක වියමන පහත දැක්වෙන වියමන් රටා අතුරෙන් තෝරන්න.


A


B


C


D

(1) A සහ B
(2) A සහ D
(3) B සහ C
(4) B සහ D

24. රෙදි නිෂ්පාදනය සඳහා කළ යුතු මූලික කාර්යය වන්නේ කැරළි වශයෙන් ඇති නූල්, නූල් කුරුවලට ඔතා ගැනීම ය. ඒ සඳහා අවශ්‍ය වන උපකරණ කට්ටලය වන්නේ,
(1) මල් චක්‍රය සහ එතුම් රෝදය ය.
(2) නූල් බෙරය සහ නූල් බෙත්ම ය.
(3) නඩාව සහ හැඩනූල් කුරු ය.
(4) දික්නූල් කුරු සහ නූල් කුරු රාක්කය ය.

25. රෙදි නිෂ්පාදනය කිරීම සඳහා නූල් එතීමේ සිට යන්ත්‍රගත කිරීම දක්වා අවශ්‍යතා අනුව විවිධ උපකරණ භාවිතයට ගැනේ. නූල් බෙත්ම යොදා ගනු ලබන්නේ කුමන අවශ්‍යතාවයක් සඳහා ද?
(1) නූල් හැදය වට කඳට ඔතා ගැනීම සඳහා ය.
(2) නූල් හැදයට අවශ්‍ය දිග සහ පළල පවත්වා ගැනීම සඳහා ය.
(3) නූල් දික්ගැස්සීමේ දී සීරු දමා ගැනීම සඳහා ය.
(4) නූල් කඳ යන්ත්‍රයට සම්බන්ධ කර ගැනීමේ ආධාරකය සඳහා ය.

26. රෙදි නිෂ්පාදනය කිරීම සඳහා යන්ත්‍රගත කරන ලද නූල් හැදයේ රටාවට නූල් ඇදීම සිදු කෙරෙන්නේ පුඩුවැල් පේළි ආධාර කර ගනිමිනි. පුඩුවැල් පේළි යන්ත්‍රයට සම්බන්ධ කර ගැනීමට ආධාර වන උපාංගය පහත රූප අතුරෙන් තෝරන්න.


A


B


C


D

(1) A
(2) B
(3) C
(4) D

[පස්වැනි පිටුව බලන්න.

27. විවීමේ දී හරස් නූල් ගැසීමට යොදා ගත් තනිපට නූලක නොම්මරය $80^S$ කි. එම නූල් කිලෝග්‍රෑම් 01 ක නූල් කැරළි කීයක් අඩංගු වේ ද?
   (1) 20 (2) 40 (3) 60 (4) 80

28. නූල්වලට නොම්මර හෙවත් අංක ලබා දෙන්නේ කිලෝග්‍රෑම් එකකට අල්ලන නූල් කැරළි ගණන අනුව ය. දෙපට නූල් කැරළි 50 ක් කිලෝග්‍රෑම් එකකට අඩංගු වී තිබේ නම්, එම නූලේ නොම්මරය හෙවත් අංකය වන්නේ,
   (1) $50^S$ ය. (2) $2/50^S$ ය. (3) $100^S$ ය. (4) $2/100^S$ ය.

29. විවීම සඳහා භාවිත කරන දික්නූල් කැරැල්ලක අංකය $2/60^S$ ක් නම් නූල් කිලෝග්‍රෑම් 04 කට නූල් කැරළි කීයක් තිබේ ද?
   (1) $\frac{60}{2} \times 4 = 120$ (2) $\frac{60\times4}{2\times2} = 60$ (3) $60\times2\times4 = 480$ (4) $\frac{60\times2\times4}{2} = 240$

30. සෙන්ටිමීටර එකකට නූල් 20 බැගින් යොදා නොම්මර $2/20^S$ දික් නූල් භාවිත කර, මීටර 50 ක් දිග නූල් හැදයක් සකස් කර ඇත. එහි පළල සෙන්ටිමීටර 30 ක් නම්, හැදයට අවශ්‍ය නූල් පොටවල් සංඛ්‍යාව කීය ද?
   (1) $20 \times 50 = 1000$ (2) $30 \times 30 = 900$ (3) $30 \times 20 = 600$ (4) $50 \times 30 = 1500$

31. භාණ්ඩ නිෂ්පාදනයට දායක කර ගැනෙන්නේ පාෂාණ ජීර්ණ වීමේ දී සෑදෙන මි.මී 0.002 ට වඩා කුඩා කලිලමය මැටි අංශු ය. මෙහි රසායනික නාමය වන්නේ,
   (1) සිලිකන් ඩයොක්සයිඩ් ය. (2) ඇලුමිනා සිලිකේට් ය.
   (3) ඇලුමිනියම් ඔක්සයිඩ් ය. (4) සෝඩියම් සිලිකේට් ය.

32. පොළොවෙන් ලබා ගන්නා මැටි, භාණ්ඩ නිෂ්පාදනයේ දී රතු, කළු, දුඹුරු මෙන් ම සුදු පැහැයෙන් ලැබෙන අවස්ථා ඇත. හඳුනා ගැනීමේ පහසුව සඳහා මැටි මූලික ව වර්ග කර ඇත්තේ,
   (1) ද්විතීයික මැටි සහ අගම් මැටි ලෙස ය. (2) ප්‍රාථමික මැටි සහ පිහිටි මැටි ලෙස ය.
   (3) ද්විතීයික මැටි සහ දියලු මැටි ලෙස ය. (4) ප්‍රාථමික මැටි සහ ද්විතීයික මැටි ලෙස ය.

33. ප්‍රමිතිගත භාණ්ඩයක් නිර්මාණය කර ගැනීම සඳහා මැටිවල තිබිය යුතු භෞතික හා රසායනික ගුණ වන්නේ,
   (1) සුවිකාර්යතාව, සච්ඡිද්‍රතාව, වර්ණය සහ හැකිළීම ය.
   (2) ඝනත්වය, භංගුරතාව, සක්‍යතාව සහ වර්ණය ය.
   (3) තන්‍යතාව, නම්‍යතාව, භංගුරතාව සහ වර්ණය ය.
   (4) ශක්‍යතාව, අනම්‍යතාව, ඝනත්වය සහ වර්ණය ය.

34. රසායනික ජල අනු දෙකක් අඩංගුව ඇති කෙඔලනයිට් මැටි විශේෂය ඊට අමතර ව එකතු වී ඇති යකඩ ප්‍රතිශතය මත නැවත වර්ග දෙකකට වෙන් කෙරේ. ඒවා නම්,
   (1) අගම් මැටි සහ පිහිටි මැටි ය. (2) කෙඔලින් සහ බෝල මැටි ය.
   (3) මකුළු මැටි සහ තලප මැටි ය. (4) රතු මැටි සහ කළු මැටි ය.

35. පහත රූපසටහන්වලින් දැක්වෙන මැටි භාණ්ඩ අතුරෙන් මැටි තහඩු භාවිතයෙන් නිපදවා ඇති භාණ්ඩ තෝරන්න.


A


B


C


D

   (1) A, B සහ C (2) A, B සහ D (3) A, C සහ D (4) B, C සහ D

[හයවැනි පිටුව බලන්න.

36. මෙහි දැක්වෙන්නේ අච්චු භාවිතයෙන් නිපදවා ඇති මැටි භාණ්ඩයකි. එය නිපදවීම සඳහා භාවිත කළ යුත්තේ,
   (1) කොටස් කිහිපයකින් යුතු සංකීර්ණ අච්චුවකි.
   (2) එක් කොටසකින් සමන්විත සරල අච්චුවකි.
   (3) කැබලි දෙකක් පමණක් යොදා ඇති කුඩා අච්චුවකි.
   (4) පදම් මැටි තෙරපීම මගින් සිදුකෙරෙන අච්චුවකි.



37. මැටි භාණ්ඩවලට අලංකරණ යෙදීම විවිධ අවස්ථාවල දී සිදු කෙරේ. හම්පදම් අවස්ථාවේ දී යොදනු ලබන අලංකරණ ක්‍රම වන්නේ,
   (1) එම්බෝස් කිරීම, දරණු රටා යෙදීම සහ ගිල්ලවීමේ ක්‍රමයේ රටා යෙදීම ය.
   (2) දිස්න යෙදීම, සායම් සීරුම් රටා යෙදීම සහ කැටයම් යෙදීම ය.
   (3) මුද්‍රා තැබීම, ජේකඩ මෝස්තර යෙදීම සහ සීරුම් රටා යෙදීම ය.
   (4) සිදුරු කැපීම, කැටයම් යෙදීම සහ ඔංගෝබ් යෙදීම ය.

38. නිවසක් ඉදිරිපිට ගෙවත්තේ එළිමහන් ස්ථානයකට සුදුසු උද්‍යාන අලංකරණ උපාංගයක් නිර්මාණය කිරීමට වඩාත් සුදුසු වන්නේ,
   (1) පල්ප මාධ්‍ය නිර්මාණයකි.
   (2) මැටි මාධ්‍ය නිර්මාණයකි.
   (3) සිමෙන්ති මාධ්‍ය නිර්මාණයකි.
   (4) ලෝහ මාධ්‍ය නිර්මාණයකි.

39. මැටි භාණ්ඩ අලංකරණය සඳහා වර්තමානයේ භාවිතයට පැමිණ ඇති ඩෙකෝපාජ් කලාවේ සිදු කෙරෙන්නේ,
   (1) වර්ණවත් කඩදාසි කපා අලංකාර ලෙස ගළපා අලවා ගැනීමයි.
   (2) වර්ණ කඩදාසි අතින් ඉරා විසිතුරු ආකාරයට අලවා ගැනීමයි.
   (3) කඩදාසි ඉරා පොඟවා පල්ප ලෙස සකස් කර ඒවා භාවිත කිරීමයි.
   (4) කඩදාසි වර්ණ ගන්වා ඒවා භාවිතයෙන් නිර්මාණ කිරීමයි.

40. මෙහි දැක්වෙන්නේ අලංකාර කරන ලද මැටි භාණ්ඩයකි. එම අලංකරණ ක්‍රමය වන්නේ,
   (1) අච්චුවකින් ලබාගත් භාණ්ඩයක කරන ලද කොලාජ් නිර්මාණයකි.
   (2) මැටි තහඩුවකින් සැකසූ භාණ්ඩයක කරන ලද ඩෙකෝපාජ් නිර්මාණයකි.
   (3) අතින් තෙරපා සකස් කළ භාණ්ඩයක කරන ලද මාබල් නිර්මාණයකි.
   (4) සකපෝරුවේ ඉදිකරන ලද භාණ්ඩයක කරන ලද පල්ප මාධ්‍ය නිර්මාණයකි.



* *

/හත්වැනි පිටුව බලන්න.